# බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2013 (2014)

## (05) බෞද්ධ සමාජ දර්ශනය

කාලය පැ. 3 යි.

**( I කොටසේ ප්‍රශ්න සියල්ලටම පිළිතුරු සපයන්න.)**

1. i. අ) සාර්ථක ඉගෙනීමක් සඳහා ශිෂ්‍යයෙකු විසින් ඉටු කළ යුතු කාර්ය දෙකක් සිගාලෝවාද සූත්‍රයේ දකුණු දිසා නමස්කායට අදාළ කරුණු අතර දැක්වේ. එම කරුණු දෙක නම් කරන්න.

...............................................................................................................................

...............................................................................................................................

ආ) භාර්යාව හා ස්වාමි පුරුෂයා යන දෙදෙනා විසින් ම ඉටු කළ යුතු එක සමාන යුතුකමක් සිගාලෝවාද සූත්‍රයෙහි පශ්චිම දිසා නමස්කාරයෙහි දැක්වේ. එම යුතුකම නම් කරන්න.

...............................................................................................................................

...............................................................................................................................

...............................................................................................................................

...............................................................................................................................

ii. අ) පවින් වැලැක්වීමේ කාර්යය සිගාලෝවාද සූත්‍රයෙහි සදිසා නමස්කාරයේ දිසා දෙකකට අයත් පිරිස් දෙකකට පවරා ඇත. එම දෙපිරිස නම් කරන්න.

...............................................................................................................................

...............................................................................................................................

ආ) වරින් වර සුදුසු කාලයට නිවාඩු ලබා දීමේ වගකීම් පැවරී තිබෙන්නේ කවර දිසාවකට අයත් කවර පුද්ගලයෙකුට ද ?

...............................................................................................................................

iii. අ) අගතියට යෑම නිසා පව් කිරීමට යොමු වේ . එබඳු අගති හහතරකි. ඉන් තුනක් නම් කරන්න.

...............................................................................................................................

...............................................................................................................................

...............................................................................................................................

ආ) ඉන්ද්‍රිය ඥානය විෂයෙහි පරිබාහිර වූ කරුණු (ඉන්ද්‍රිය මෙහෙයවා ලබා ගත නොහැකි දැනුම් පථ) හැඳින්වීමට බුදු දහමේ හි යෙදෙන පාරිභාෂික පදය කුමක් දැයි දක්වන්න.

...............................................................................................................................

...............................................................................................................................

...............................................................................................................................

...............................................................................................................................

iv. අ) වර්ණ භේද සංකල්පය සාවද්‍ය බව දක්වමින් සමාජ සංස්ථාවල ක්‍රම විකාශය පිළිබඳ ව බුදුරදුන් වදාළ ප්‍රකට දේශනය නම් කරන්න.

...............................................................................................................................

ආ) බුදුරදුන විශ්වයේ හි ලොකධාතු තුනක් දක්වා ඇතත. ඒවා නම් කරන්න.

...............................................................................................................................

...............................................................................................................................

...............................................................................................................................

v. ආ) 'විවට්ටමාන යුගයෙ'පෘථිවියේ එන ආභස්සර කායික් දෙවිවරුන්ගේ ලක්ෂන හතරකි. ඉන් දෙකක් නම් කරන්න.

..........................................................................................................................................

..........................................................................................................................................

ආ) සමාජ පරිහානියට හේහතු වී මිනිස් ගති තුනක් අගගඤ්ඤ සුත්‍රයේ දැක්වේ. ඉන් දෙකක් නම් කරන්න.

..........................................................................................................................................

..........................................................................................................................................

vi. ආ) මිනිස් සදාචාර පරිහාණිය නිසා පරිසර මවිනාශ සිදු වේ . සදාචාර පරිහාණියට කරුණු තුනක් හේතු වේ. එමකරුණු වලින් දෙකක් නම් කරන්න.

..........................................................................................................................................

..........................................................................................................................................

ආ) පරිසරය දෙය කෘතඥතා පුර්වකව බැලීමට ත්, කෘතඥ වීමටත් බුදු වී දොවැනි සතියේ දී ආදර්ශයක් සැපයු බුදුරජාණෝ පරිසරය සුරැකීමේ අගගය ප්‍රකට කළහ. එම සිද්ධිය නම් කරන්න.

..........................................................................................................................................

vii. ආ) තුන්වැනි කාශ්‍යප රජු , බලා සතුටු වීම පිණිස තොටුපළ දෙකක් මසුන් ඇති කර පෝෂණය කිරීමන් පරිසරය පිළිබඳ ප්‍රකට කළ ආකල්පය කුමක් ද?

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

ආ) ජීව අජීව පරිසරි පද්ධති රැක තැනීමට උපකාර වන මානසික කුසලතා හතර , සතර තබඹවිහරන ලෙත දක්වා ඇත. ඉන් දෙකක් නම් කරන්න.

..........................................................................................................................................

..........................................................................................................................................

viii . ආ) සමාජ සවලතාවට බාධා කරන ප්‍රබල සාධකයක් ලෙස නිර්මාණ වාදය තහවුරු කරන බ්‍රාහ්මණොසය මුඛමාසීද් යන ශ්ලෝකය වේදයෙ" ඇත. එම ශ්ලෝකය සම්පුර්ණ කර ලියන්න.

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

ආ) ඉහත ශ්ලොකයේ දැනඳක්වෙන මිථ්‍යාවට එරෙහිව ඉදිරිපත් කළ 'න ජච්චා වසලො හොති' යන ගාථාව සම්පුර්ණ කර ලියන්න.

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

..........................................................................................................................................

# බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2013 (2014)

## (05) බෞද්ධ සමාජ දර්ශනය

කාලය පැ. 3 යි.

( ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

II කොටස

02. i. "සබ්බේ තසන්ති දණ්ඩස්ස" යන ගාථාව සම්පූර්ණ කර ලියන්න.

ii. සමස්ත විශ්වයේම උපන් - නූපන්, දිසි - අදිසි, ළඟ - දුර, හැම ආකාරයේම සත්ත්වයින් මෙත් සිත් වඩන සේද, උඩ - යට හා සිරස් සිව්දෙසින් වෛරයක් සතුරු බවක් නැති සේ සිත පිහිටුවන ලෙසද උපදෙස් දෙන සූත්‍රය නම් කරන්න.

iii. 'අප වටා තිබෙන ලෝකයත්, සමාජයත් එකම සමස්තයක් ලෙස සලකා මනුෂ්‍යයන් විසින් තම සමාජගත චර්යාව සර්ව ජීව හිතකාමී පිළිවෙතක් බවට පත්කර ගත යුතු යැයි බුදුසමය උපදෙස් දෙයි'. යන කියමන තහවුරු කරන්න.

03. i. බුද්ධ දේශනය ජීවන දර්ශනය කරගත් සමාජයක ගිහි පැවිදි පිරිස් මූලික පිරිස් හතරක් ලෙස ව්‍යුහගත වී ඇත. එම සිව් පිරිස නම් කරන්න.

ii. මේ සිව් පිරිස තුළම එක සමාන කුසලතා වර්ධනය වියයුතු යැයි තම න් වහන්සේ අපේක්ෂා කරන බව බුදුරජාණෝ මහා පරිනිර්වාණ සූත්‍රයෙහි දැක්වූහ. එම කුසලතා නම් කරන්න.

iii. තම සමාජයෙහි සාමාජිකයන්ට ධර්මය අවබෝධ කිරීම, ධර්මය දීර්ඝ කාලයක් ආරක්ෂා කරගැනීම, ධර්මයේ නිර්මලත්වය රැක ගැනීම යන අරමුණු ඉටුකර ගැනීම සඳහා සිව්වණක් පිරිස විසින් ඉටුකළ යුතු මෙහෙවර පැහැදිලි කරන්න.

04. i. කරුණු තුනක් පිළිබඳව මහා සම්මතයෙන් රජුට බලය පැවරූ බව අග්ගඤ්ඤ සූත්‍රයේ සඳහන් වේ. ඒ කරුණු තුන නම් කරන්න.

ii. දස සක්විත් වත් නම් කරන්න.

iii. අප රටේ පාලනය සම්බන්ධයෙන් දස සක්විති වත් ක්‍රියාත්මක කිරීම සඳහා සුදුසු වැඩපිළිවෙළක් යෝජනා කරන්න.

05. i. යෝනිසෝ මනසිකාරයෙන් තොරව අධිපරිභෝජනයට හුරු වූ පුද්ගලයන් පස් දෙනෙකු ගැන බෞද්ධ සාහිත්‍යයෙහි සඳහන් වේ. ඔවුන්ගෙන් සිව් දෙනෙකු නම් කරන්න.

ii. පරිභෝජනය පිළිබඳ අනර්ථකාරී අන්ත දෙකකට ගිය පුද්ගලයන් දෙදෙනෙකු උදුම්බර ඛාදික, අජද්ධුමාරණ යන වචනවලින් හැඳින්වේ. කෙටි සටහනක් මගින් ඔවුන් පැහැදිලි කරන්න.

iii. " කාර්යක්ෂම ධාර්මික නිෂ්පාදනය, අර්ථවත් පරිභෝජන තෘප්තිය, පරිත්‍යාගය යන අංග බෞද්ධ ආර්ථිකයක මූලික ලක්ෂණ වේ. මෙම ප්‍රකාශය සනාථ කරන්න.

06. i. සම්මුඛා විනය හා අමූළ්හ විනය යනු කුමක් දැයි කෙටියෙන් හඳුන්වන්න.

ii. විනය නීති පැනවීමේ දී බුදුරදුන් මුල්කරගත් අරමුණු දහය නම් කරන්න.

iii. " නීතිය යුක්තිය සමඟ බැඳී ඇති බවත්, එය මිනිසාගේ යහපත පිණිසම සකස් කරගත්තක් බවත් බුදුසමය සලකයි". මෙම ප්‍රකාශය සනාථ කරන්න.

07. i. " සබ්බේ තසන්ති දණ්ඩස්ස" යන ගාථාව සම්පූර්ණ කර ලියන්න.

ii. යුද්ධයට පොළඹවන මානසික ලක්ෂණ හතරක් නම් කරන්න.

iii. " බෞද්ධ දර්ශනය පදනම් කොටගත් ජීවන රටාවකට අනුවර්තනය වීමෙන් ලෝකයේ යුද ගැටුම් නතර කළ හැකිය". මෙම ප්‍රකාශය තහවුරු කරන්න.

08. i. ජනගහනයේ ශීඝ්‍ර වර්ධනය නිසා පැන නගින සමාජ ගැටලු හතරක් නම් කරන්න.

ii. 'බෞද්ධ සමාජ දර්ශනයේ' දක්වා ඇති පරිදි ජනගහනයේ ශ්‍රීඝ්‍ර වර්ධනය පාලනය කිරීම සඳහා භාවිත වන උපක්‍රම තුනක් දක්වා ඒවායින් බුදු දහම අනුව අනුමත කළ හැකි හා ප්‍රතික්ෂේප කළ හැකි ක්‍රම වෙන් වෙන්ව දක්වන්න.

iii. ජනගහන වෘද්ධියෙන් මතුවන සමාජ ගැටලු නිරාකරණය සඳහා භාවිත කළ හැකි යෝජනා මාලාවක් ඉදිරිපත් කරන්න.

09. i. මානව අයිතිවාසිකම් පිළිබඳ විශ්ව ප්‍රකාශනය කවර ආයතනයක් මගින් කවර වර්ෂයක, කවර මාසයක, කවර දිනයක ප්‍රකාශයට පත්කරන ලද ද?

ii. පන්සිල් වල මුල් පද හතර පිළිවෙළින් දක්වා ඒවායින් සුරැකෙන මානව අයිතිවාසිකම් නම් කරන්න.

iii. 'මානව අයිතිවාසිකම් සුරැකීම පිළිබඳ විශිෂ්ට සමාජ දර්ශනයක් බුදුදහමෙහි අන්තර්ගතයි' මෙම ප්‍රකාශය සනාථ කරන්න.

* * *